වි. සුතේයෙව්

# ගත්ත යම






අනුවාදය
පද්ම හර්ෂ කුරණාගේ

# හත්ත යට

කතාව සහ චිත්‍ර
**වි. සුතේයෙව්**

අනුවාදය
**පද්ම හර්ෂ කුරණගේ**

නව පරිගණක සකැසුම
**මාලක ලලනජීව**

ISBN 978-955-1979-09-6

ප්‍රකාශනය



**කැනොල් පබ්ලිෂිං හවුස්**

මුද්‍රණය
**රොනැට් එන්ටප්‍රයිසස්**

ප්‍රථම මුද්‍රණය 2010





දවසක් කූඹියෙක් තද වැස්සට අහුවුණා. කොහේ හැංගෙන්න ද?

කූඹියා දැක්කා එළිමහන් පිට්ටනියෙ හත්තක් තියෙනවා. ඌ දුවල දුවල ගිහින් හත්ත යට හැංගුණා.

කූඹියා හත්ත යටට වෙලා වැස්ස පායනකල් ඉන්නවා.

වැස්ස තව තවත් තදින් වහිනවා....

හත්ත ළඟට සමනලයෙක් බඩ ගාගෙන එනවා.

"කූඹියෝ, කූඹියෝ, මාවත් හත්ත යටට ගනින්. මම හොඳටම තෙමුණා. ඉගිල්ලෙන්න බෑ !"





''උඹට ඉඩදෙන්නෙ කෙහොමද? මමත් මෙතන ඉන්නෙ අමාරුවෙන්'' කූඹියා කියනවා ''කමක් නෑ ! තෙරපිලා හරි කරදර නොකර ඉඳිමු'' කූඹියා සමනලයාට හත්ත යට ඉඩ දුන්නා.

වැස්ස තවත් තදින් වහිනවා...

ඒ ළඟින් මීයෙක් දුවනවා. ''මාවත් හත්ත යටට ගනිල්ලා ! මගෙ ඇඟෙන් වතුර බේරෙනවා'' මීයා කියනවා.

''උඹට කොහේ ඉඩ දෙන්න ද? මෙතන ඉඩ නෑ.''

''ටිකක් තෙරපිලා ඉඳිමු !''





උන් මීයාට හත්ත යට ඉඩ දුන්නා.
මොර සූරන වැස්ස. පායන්නෙ නෑ...

හත්ත ළඟ ගේකුරුල්ලෙක් උඩ පැන පැන අඬනවා.

''පිහාටු තෙමුණා, පියාපත් රිදෙනවා ! මාවත් හත්ත යටට ගනිල්ලා, වේලෙන්න, ගිමන් අරින්න, වැස්ස පායන කල් !''

''මෙතන ඉඩ නෑ''

''අනේ ටිකක් ඉඩ දීපල්ලා !''

''හොඳයි''





ඉතින් ගේකුරුල්ලට ඉඩ ලැබුණා.

පිට්ටනියට පැන පැන ආපු හාවෙක් දැක්කා හත්ත.

''මාව හංගපල්ලා, බේරාගනිල්ලා! මා පස්සෙන් නරියෙක් එලවා ගෙන එනවා !...''

හාවා ගැන දුකයි. ''අපි තව ටිකක් කිට්ටු වෙමු'' කුඹියා කියනවා.





හාවාට හැංගුවා විතරයි, මෙන්න නරියා දුවගෙන එනවා.

''හාවා දැක්කෙ නැද්ද?'' නරියා අහනවා. ''දැක්කෙ නෑ''

නරියා තවත් කිට්ටුවට ඇවිල්ලා ඉව කෙරුවා.

"මෙතනද උඹ හැංගුණේ?"

"කොහෙද උඹ මෙතන හැංගෙන්නෙ!"

නරියා වල්ගය වනල යන්න ගියා.





මේ අතර වැස්ස පැව්වා - ඉර එබී බැලුවා. ඔක්කොම හත්ත යටින් එළියට ආවා. සන්තෝස වෙනවා.

කුඹියා හිතල-මතල මෙහෙම කියනවා. ''ඒ කොහොමද? කලින් තනි මට හත්ත යට තදබදේට ඉන්න සිද්ද වුණා. දැන් පස් දෙනෙකුට ඉඩ තියෙනවා!''

''බක-හහා, බක-හහහා!'' ගාලා කව්දෝ හිනාවුණා.

ඔක්කොම බැලුවා: හත්ත උඩ ගෙම්බෙක් ඉඳගෙන හිනා වෙනවා.



''හානේ, උඹ! හත්ත....''

තවත් නොකියා පැන පැන ගියා.

ඔක්කොම හත්ත දිහා බැලුවා. ඊට පස්සෙ අනුමාන කළා මුලින් හත්ත යට තදබදේට තිබුණත් පස්සෙ පස් දෙනෙකුට ඉඩ ඇති වුණොත් මොකද කියලා.

ඔබ අනුමාන කළා ද?



